# LIFE OF THE BUDDHA
# (FOR CHILDREN)
# ළමයින් සඳහා බුදු සිරිත
# සිතුවමින්



# LIFE OF THE BUDDHA

"FOR CHILDREN"

# බුදු සිරිත සිතුවමින්

“ළමයින් සඳහා”

Ven. Weragoda Sarada Maha Thero
පූජ්‍ය වේරගොඩ සාරද මහා ස්ථවිර
Singapore Buddhist Meditation Centre
සිංගප්පූරු බෞද්ධ භාවනා මධ්‍යස්ථානය
342-D, Pasir Panjang Road, Singapore 0511
342-ඩී, පසීර් පන්ජං පාර, සිංගප්පූරුව 0511
Tel : (65)7783330 Fax : (65)7730150
දුරකථන :(65)7783330 ෆැක්ස්:(65)7730150

AUTHOR - PUBLISHER
කතෘ
Ven. Weragoda Sarada Maha Thero
පූජ්‍ය වේරගොඩ සාරද මහා ස්ථවිර

EDITOR
සංස්කරණය
Dammi Bay
ධම්මි බේ

ILLUSTRATOR
චිත්‍ර ශිල්පී
Vijaya Keerthi
විජය කීර්ති

COMPUTER GRAPHICS & DESKTOP PUBLISHING
පරිගණක මාධ්‍යරුප - විද්‍යුත් ප්‍රකාශනය
Psdma Kumari Dasanayaka
Sujatha M.L.Tan
පද්මා කුමාරි දසනායක
සුජාතා එම්. එල්. ටැන්

FIRST PUBLISHED
ප්‍රථම මුද්‍රණය
27 August 1995
27 අගෝස්තු 1995

Printed in Singapore
සිංගප්පූරුවේ මුද්‍රණය කෙරිණි

# බුදු සිරිත සැකෙවින්
# "ළමයින් සඳහා"

සිංගප්පූරුවේ බෞද්ධ භාවනා මධ්‍යස්ථානයේ අලුත්ම අංගය වශයෙන් ඉදිරිපත් කැරෙන, ළමා සිත්තම් කතා පොත් පෙළේ පළමු වැන්න "බුදු සිරිත සැකෙවින්" නමින් ඔබ අතට පත් වේ. මෙම අභිනව ප්‍රකාශන මාලාවේ පළමු වන කෘතිය ලොව පහළ වූ අසම සම වීරෝදර ආගම් කතෘවරයා වශයෙන් පිළිගැනෙන සිද්ධාර්ථ ගෞතම බුදුරජාණන් වහන්සේ ගේ චරිතාපදානය මෙයට පදනම් වි ඇත්තේය. මෙහි කතා පුවත ඉංග්‍රිසි භාෂාවෙන් ලියන ලද්දේ සිංගප්පූරුවේ සිල්වියා බේ මෙනෙවිය විසිනි. චිත්‍ර උපදේශක වශයෙන් කටයුතු කරන ලද්දේ ප්‍රවීණ කලාශිල්පි පී.වික්‍රමනායක මහතා විසිනි. ඔහුගේ උපදෙස් අනුව මෙය සිත්තමට නගන ලද්දේ විජය කීර්ති මහතා විසිනි . සදචාරය වල් වදිමින් දූරාචාරය ලහි ලහියේ ඉස්මතු වන මේ ලෝකයේ අපේ දරුවන් දැරියන් යහ මග ගැන්වීමට බුදු සිරිත තරම් වෙනත් පිහිටක් නැත. අපේ බාල පරපුර නොයෙක් හේතුන් නිසා අත්තනෝමතික අදාන්ත අසංවර මාගීයට සීඝ්‍රයෙන් යොමු වීගෙන යන මේ අවදියේ විශේෂයෙන් බාල පරපුර සඳහාම මේ පොත ඉදිරිපත් කිරිමට අපි අදහස් කරමු. ජාතියේ අභිවෘද්ධියත් අනාගතයත්, බාර ගැනීමට ඇප කැපවී සිටින අපේ බාල පරම්පරාවේ ආද්ධ්‍යාත්මික අවබෝධයත්, ප්‍රබෝධයත්, මෙයින් ඇති වේවා යැයි අපි ඉතසිතින් පතමු.


පූජ්‍ය වේරගොඩ සාරද ස්ථවිර

342-ඩී පසිර්පංජන් පාර,
සිංගප්පූරුව, 0511,
දූරකථනය:-7783330,
පැක්ස්:- 7730150,
1994-09-21



## MR.& MRS. AJANTHA DINAMITHRA

This publication, "Life story of the Buddha in Pictures," is published especially with the younger generation of readers in mind. The work is of invaluable importance to children everywhere. Mr. M.K. Ajantha Dinamithra and Family have undertaken to defray the cost of printing this work as a service to mankind and especially to Buddhists. Mr. Ajantha Dinamithra, the Managing Director, Dushan Enterprises is a devoted Buddhist, and has always promoted Buddhist causes, both in Sri Lanka and abroad. He is a founder- member of the Japan - Sri Lanka Buddhist Centre and is perpetually dedicated to the promotion and propagation of Buddha Dhamma. My grateful appreciation of Mr.Dinamithra and his Family is recorded here. This publication is dedicated to the loving memory of his late Grandmother Mrs. Manchinona, late father-in-Law Mr. Don Amis Kasturiarachchi and late brothers Mr.Jayadewa Vishwamithra and Mr.Sarath Wijesinhe.

May the Blessings of the Triple Gem be with all.

VAN. W. SARADA MAHA THERO

" කාලො යංතෙ මහාවීර
උප්පජ්ජ මාතු කුච්ජියං........
මහාවීරයාණෙනි මවුකුස පිළිසිඳ
ගැනීමට මේ ඔබට කැරෙන ආරාධනයයි..

2 දඹදිව් වැසියෝ ඇසළ සැණ කෙළියෙහි
යෙදෙති. සුදෙවුන් රජ සිය බිසව සමග
එයට සහභාගී වෙයි.....



3
ඒ ද ඇසළ පුර පසළොස්වක් ද මහාමායා
බිසව සිල් සමාදන් වූහ. සිරියහනෙහි සැතපුණු
ඕ තොමෝ සුව නින්දට වැටුණහ........



4 එළිවන යාමයේ එතුමිය පුදුම සීනයක් දුටුවා සතරවරම් දෙවියන්ගේ බිසෝවරුන් එතුමිය හිමාල වනයට කැඳවා ගෙන ගියා.





5 ඒ අවස්ථාවේ දි දේවිය අනවතප්ත විලෙන් නාවා රිදී පව්වේ රන්විමනෙක රන් යහනාවෙක සතපවන ලදි.ඉතාම ලස්සන සුදු ඇත් පැටියකු දකුණු ඇළයෙන් දේවියගේ කුස තුළට පිවිසුණා.......

6 මේ වේලාවෙම තුසිත දෙව්ලොව විසූ අප මහ බෝසතාණන් ඉන් චුත වී මහාමායා දේවිය ගේ කුස පිළිසිඳ ගත්තා. හීනයෙන් පෙන්නුම් කළේ ඒ පුවතයි.





7 දේවිය පසු ද මේ සිහිනය පිළිබඳ පුවත සුදෙවුන් රජතුමා හට සැලකළා.රජතුමා මෙය සුබ සිහිනයක් බව වටහා ගෙන වහා ම තම මාළිගයට බ්‍රාහ්මණ උපදේශකයන් කැඳෙව්වා....


8
උගත් බමුණන් රජතුමා හට ඒ සිහිනය මෙසේ විස්තර කළා. රජතුමෙනි ඔබ දේවියගේ කුස තුළ මහ පිනැති පුත් රුවනක් පිළිසිඳ ගත්තා. ගිහිව සිටියොත් ඔහු ඒකාන්තයෙන් ම සක්විති රජ වන බවත් පැවිදි වුව හොත් ලොව්තුරා බුදුවන බවත් පළකළා.....


9
ඒ බමුණන් අතර සිටි ලා බාල ම බමුණා වූ කොණ්ඩකද්ඤ මේ කුමරා ඒකාන්තයෙන් ම බුදුවන බව ප්‍රකාශ කළා.......


10 ටික කලකට පසු
මහාමායා දේවිය තම දෙමාපියන් බැලීමට දෙව්දහ නුවරට යැමට රජතුමා ගෙන් අවසර ඉල්ලුවා. රජතුමා එයට කැමැත්ත පළකොට දේවිය එහි පිටත් කර හැරියා.....


11
මහාමායා දේවිය තම දෙමාපියන් බැලීමට යන අතර මඟදිමේ ලුම්බිණි සල්උයන බව දැන ගත් දේවිය ලස්සන මල් පිපී තිබුණු සල් උයන බලන්නට නතර උනා. අගේට සල්මල් පිපිල- බලන්න හරි ලස්සනයි......


12
මහාමායා දේවිය පිරිවර
ලියන් සමග ලුම්බිනි උයනට
ඇතුළු වෙයි.


13 එහිදී ඕ තොමෝ
පින්වත් කුමරෙකු
බිහිකළෝය....


14 සුදෙවුන් රජතුමා සිය ගුරුතුමා වූ කාල දේවල
තාපසයා හට තම පුත්කුමරු පෙන්නුවා. මෙහිදී
අසිරිමත් පෙළහරක් සිදුඋණා.....


15 සිදුහත් කුමරුගේ දෙපා අසිත
තවුසාගේ ජටාවෙහි ඉබේම පතිත
උණා......


16 අසිත තවුසා පළමුව
සිනා පහළකොට පසුව
ඇඬුවා. රජතුමා එවිට
සිනා සීමට සහ ඇඩීමට
හේතු විමසුවා.මහරජතුමෙනි,
මේ පින්වත් කුමරා
ඒකාන්තයෙන් ම
බුදුවෙනවා. එහෙත් එතුමාගේ
බුදුසිරිය බලා සොම්නස්
වන්නට මා ජීවත්වන්නේ නෑ....
මහරජ තුමනි, මා සිනාසුණේ
එතුමාබුදුවන නිසයි. .මා හැඬුවේ
එතුමා දැකිමට මා ජීවත්
නොවන නිසයි......


බෝසත් කුමරාගේ නම් තබන 17
උලෙලේ දී එතුමා මතු බුදුවන නිසා..
"සිදුහත්" කියා නම් තබන ලදි.....
සිදුහත් කුමරු වප් මගුල් ද
ආනාපාන සති භාවනාහේ
යෙදිම... 18







උයන් කෙළියට යෑම..
උයනට යන අතර මඟ සතර පෙර නිමිති දැක (1.මහල්ලෙක
2. ලෙඩෙක් 3. මළමිනියක්,4. පැවිදි රූපයක්, ) සසර දුක
අවබෝධ කර ගත් සිදුහත් කුමරු, මේ දුකින් තමාත්, සියලු
ලෝ වැස්සනුත්, මුද ගන්නා මගක් පිළිබඳව, සිදුහත් කුමරු
සිත් යොමු කළා..... 23










7
පුතු වඩා ගත හොත් දේවිය ඇහැ ඇරේවි. ඉත් මගේ ගමනට බාද පැමිණෙනවා. ලෝ සතට සෙත සලසා පසුව ඇවිත් පුතා බලන්න ඕන.


28
යහළු චන්න, වහා අසු සරසා ගෙනෙන්න. වැදගත් ගමනක් යන්න තියෙනවා.


29
කුමර, පිට නොයව, තව සත්දිනෙකින් තොප සක්විති රජවෙනවා.


30
මාරය, මාගේ මේ ගමන වැළැක්වීමට ඔබට බැහැ. මා මේ ගමන යනවා යනවා මයි.......


1
චන්න, ලස්සනට හඳ පායා තිබෙන හැටි බලන්න.අපේ මේ ගමනින් මුළු තුන් ලොවට ම ධර්ම ලෝකයක් ලැබෙනවා නියතයි...
32
අහසත්, පොළොවත් මේ දිය කඳත් එක වාගේ රන් දියරෙන් නැවිලා. ඒක හොඳ පෙර නිමිත්තක්.


33
අනේ කුමරුනි මාත් ඔබ සමග ම මහණ වෙන්නම්.....
චන්න, ඒක පසුව පුළුවන්. පියරජුටත් දේවියටත් මේ ආභරණ ගෙන ගොස් දී මා පැවිදි වූ බව කියන්න.....
34


ගංතෙර, සුදු වැලිතලාවේ සිට 35
සිදුහත් කුමරු සිය කෙස් වැටිය
කපා දමයි.චන්න සහ කන්ථක අසු
ඒ දෙස දුක් මුසුව බලා සිටි වගයි....


36 සිදුහත් තාපස තුමා, සත්‍ය සොයමින්
විවිධ ආචාර්යවරයන් වෙත, ගිය අතර
භාර්ගව, ආලාරකාලාම, උද්දකරාමපුත්‍ර
යන තවුසන් ගේ අසපුවලට ද පැමිණි වගයි....
මේ තාපසයන් දන්නා සියල්ල දැන්
මා දන්නවා. විමුක්තිය ලබා ගන්න
ඒවා ප්‍රමාණවත් නැහැ. මා තනිවම
එය සොයා ගත යුතුයි..... 37


38 අත්ථාහි අත්ථනො නාථො -කොහි
නාථො පරො සියා....තමන් හිසට
තම අතම ය සෙවනැල්ල.අනුන්
බලා සිටියොත් වෙයි වැනසිල්ල...


39 සත්‍යය සෙවීමේ නිරත
වූ සිදුහත් තවුසාණෝ,
තම සිරුරට කිසියම්
සැපතක් නො දිය යුතු
යයි, ඉටා ගත් අතර
සිරුරට වදදීම, එයට
එකම පිළියම යයි සිතූහ


40 හය වසරක් තිස්සේ කළ
දුෂ්කර ක්‍රියාවෙන් බෝසතාණන්
වහන්සේ ඉතා දුර්වලව සිහිසන්
නැතිව ඇද වැටුණාහ.


41 මැදුම් පිළිවෙත අනුගමනය
කිරීමට ඉටා ගත් ,බෝසත්
තවුසාණන්, ගෙන් ගෙට,
පිඩු සිඟා ගිය වගයි......


සුජාතා, බාරය ඔප්පු කිරීමට අජපාල නුගය වෙත ගොස්
හි වැඩසිටි, සිදුහත් තවුසා දැක, තම බාරය පිළිගැනීමට
ටින, රුක් දෙවියැකැයි සිතා, එතුමාට කිරි පිඩු පිළි ගන්වා
ගේ පැතුම ඉටුවුණා සේ ම,ඔබ පැතුමත් ඉටුවේවා..... 42


නියත වශයෙන් ම මට සත්‍යාවබෝධය 43
වන්නේ නම්,මේ තලිය උඩුගං බලා යේවා...
තලිය උඩුගං බලා යනු දුටු බෝසත් තුමා නියත
වශයේන් ම තමා බුදුවන බව දැන ගත්තා....


4 එද බෝමැඩ වැඩ සිටි බෝසතාණෝ,
බුදුව මිස නො නැගිටිමි යි, දැඩි
අදිටනින් භාවනාවෙහි යෙදුනාහ......
45 භාවනාවෙහි යෙදිමින් සිටි බෝසතුන් වෙත
වසවත් මරු සිය සෙනග සමග පැමිණ,
බුද්ධත්වය වැළැක්වීමට උත්සාහ ගත් නමුත්,
ඔවුන් ගේ එම ප්‍රයත්නය අසාර්ථක වූ අතර
මාර සෙනග හිස් ලූ ලූ අත පලා ගියහ....


6 වෙසක්පුර පසළොස්වක් පෝද සිදුහත්
බෝසතාණෝ, සියලු කෙලෙසුන් නසා
බුදුබව ලැබ, සති හතක් තිස්සේ සමවත්
සුවයෙන් කල් ගත කළ සේක......


47
බුදුබව ලැබීමෙන් පසුව, තමා
වටහා ගත් දහම, පහදා දීමට,
තමා ඇසුරු කළ යහළු තවුසන්
සොයා ගිය වගයි.....
බුදුරජාණන් වහන්සේ එනු දුටු තවුසෝ......
අන්න, සිදුහත් බුදුවෙන්න බැරි ව ආයෙත්
අප හොයාගෙන එනවා. ඔහෙ ආපුදෙන්,
අසුනක් විතරක් පනවමු..... 48

49 බුද්ධත්වය ලැබීමෙන් පසුව, බුදුරජාණන් වහන්සේ සති හතක් තිස්සේ චිත්ත විවේකයෙන් කල් යැවූහ.
1.බෝමැඩ,මෙහිදි පටිච්ච සමුප්පාදය මෙනෙහි කොට පළමු වරට යමක මහා ප්‍රාතිහාර්යය දැක්වූහ.



50 දෙ වන සතිය:-ලෝකයට කළගුණ සැලකීමේ වටිනා කම පෙන්නා දෙමින්,බුදුරජාණන් වහන්සේ බුදු බව ලැබීමට පිහිට වූ බෝරුක දෙස ඇසිපිය නොහෙළා,බලාසිටියහ........



51 තෙ වන සතිය:- රුවන් සක්මනෙහි යෙ දී සිටි බුදුරජාණන් වහන්සේ තමන් වටහා ගත් දහම මෙනෙහි කළහ.....



52 සතර වන සතිය:-රුවන්ගෙය, මෙහිදි උන්වහන්සේ ගේ-ශරීරයෙන් සවනක් රුස් විහිදිණ.




53 පස් වන සතිය:- අජපාල නුගරුක මුල තණ්හා,රතී, රගා,යන මාර දූ වරුන් බුදුරදුන් පෙළඹවීමට යත්න දැරූ සැටි



54 හයවන සතිය:- මුචලින්ද නා රජු සමග...
මේ සතිය තුළම නොකඩවා ම මහ වැසි වසින විට මුචලින්ද නම් නා රජ බුදුනට සෙවණ සැලසිය...



55 සත් වන සතිය:- කිරිපලු නුගරුක මූල..
තපස්සු-භල්ලුක දෙබෑයන් බුදුනට මී පිඩු පිළි ගැන්වූ වගයි......



මහියංඝනං නාග දීපං කලයාණං 56
පද ලාංජනං......අපේ සිංහල වංශ
කථාව අනුව, බුදුන් වහන්සේ තුන්
වරක් ලක්දිවට වැඩම කළ බව
සඳහන් වේ. පළමු වර උන්වහන්සේ
මහියංගනයට වැඩම කිරීම සිත්තරා
දුටු සැටි.



ශාක්‍ය කෝලිය යුද්ධය සමාදනය කිරීම..... 57
නෑ දෙගොල්ලක් සටනට වත් කල්හි, බුදුරජාණන්
වහන්සේ ඒ අය සමාදන කිරීමට යුද බිමට වැඩියහ.






9 බුදුරජාණන් වහන්සේ පළමු වරට
සිය පියාණන් වූ සුදෙවුන් රජතුමා
ැහැදැකීමට කිඹුල්වත් පුරයට
වැඩම කළහ

61 බුදුරජාණන් වහන්සේ
ගේ අත අල්ලා ගත් රාහුල
කුමරු, පියාණෙනි මට
ඔබගේ සෙවණ ද සැපයි.
මට ඔබගෙන් ලැබෙන
දයාදය දෙන්න....

62 පුත රාහුල, මා හා
එන්න.මම ඔබට
ලොවිතුරා දයාදය
දෙන්නෙමි. මෙහිදි
සත් හැවිරිදි රාහුල
කුමරු, සසුන් ගත විය






63 බුදුරජාණන් වහන්සේ සියලු සත්වයන් කෙරෙහි පතල මහා කරුණාවෙන් යුතු වූහ. බුද්ධත්වයට පැමිණ පන්සාලිස් වසරක් මුළුල්ලේ, සියලු සත්වයන් දුකින් මුදවා දහම් දෙසූහ.නොයෙක් තරා තිරමේ සත්වයනට උන්වහන්සේ පිහිට වූ සැටි මතු දැක්වේ










බුදුන්වහන්සේ කිඹුල්වත් නුවර වසද්දි, ඵතුමන්ගෙ සුළු මව් වූ, මහා ප්‍රජාප ගෝතමී, තෙවරක් බුදුන් වෙත අවුත්, පැවිද්ද ඉල්ලුවාය.ඵහෙත් බුදුහු එය තෙවරක් ප්‍රතික්ෂේප කොට, අනඳ හිමියන්ගේ ඉල්ලීම පරිදි, ඇය පැවිදි කරවා, මෙහෙණි සස්න පිහිටුවා වදළහ.







70 ආලවක යක්ෂයා දමනය කිරීම....
දහම් ඇසූ ආලවක යක්ෂයා බුදුන් සරණ ගිය වගයි....
71ආලවක යක්ෂයා.... මුඩු මහණ, වහා මාගේ විමානයෙන් පිටවෙව,


පෙහෙරදුව බුදුන්රජාණන් වහන්සේ ගේ ප්‍රශ්නවලට පිළිතුරු දෙයි....... කුමරිය ඔබ ආයේ කොහි සිටද? ස්වාමීනි මම නොදනිමි.......
73 නැගනිය, ඔබ කොහි යන්නේද?....
74 ස්වාමීනි, මම නොදනිමි නොදනිමි....


75 විශාඛා සිටු දුව පූර්වාරාමය බුදුන්ට පිළි ගැන්වීම.....
76 හිමියෙනි, මේ ආරාමය ඔබ වහන්සේට සුව පිණිස පවතී වා.......


7 අංගුලිමාල දමනය..... පින්වත, අනුන්ට හිංසා නො කරන්න.ඔබට හිංසා කරනවාට ඔබ අකමැති සේ ම, අන් අයද හිංසාවට අකමැතිය....
78 අංගුලිමාල, සතුන් මරන්න-එපා.සියලු සතුන් වෙත කරුණාව දක්වන්න...........
79 බුද්ධං සරණං ගච්ඡාමි........ ධම්මං සරණං සංඝං සරණං..


80 නාලාගිරි දමනය....... දෙව්දත්, සුරාවෙන් මත් වූ නාලාගිරි ඇත්රජ, බුදුරජාණන් වහන්සේ නැසීමට මෙහෙයවූ සැටි....
81 බුදුරජාණන් වහන්සේ ගේ මහා කරුණා බලයෙන් දමනය වූ නාලාගිරි ඇත් රජ, දණින් වැටී, නමස්කාර කළ වග.....


82 බුදුරජාණන් වහන්සේ ගේ පරම හතුරා වූ දේවදත්ත හට තමා කළ පව් මෙ ලොව දි ම පල දුන් සැටි..........
83 ගිනි දැල්වලින් වෙළුණු දේවදත්ත තෙරණුවන් නරකයට ඇද ගෙන ගියේ මෙසේ ය.......


84 පටාචාරා පුවත... දෙමාපියන්, සැමියා සහ දෙ දරුවන් මිය ගිය සොවින් සිහි විකල් වූ පටාචාරාව බුදුරදුන් ඉදිරියේ හඬා වැලපෙයි.....


85 ගිලන්ව අත් පිහිටක් නොලත් අසරණ වූ පූතිගත්තතිස්ස තෙරුන්ට, බුදුන් වහන්සේ සිය දැතින් ම උවටැන් කළ අයුරු.........
89 මහණෙනි, ගිලනුන් උපස්ථාන කරන්නේ නම්, එය මට කළ උවටැනක් සමානයි.
86 තම එකම පුතු මළ සොවින් කිසා ගෝතමිය උමතු වූවාය.....


87 නැඟනිය, කිසිවකු නොමළ, ගෙයකින් අබ මිටක් ගෙන, ආවොත්, ඔබ පුතුට පණ දිය හැකියි.......
88 ස්වාමිනී, මගේ මේ එකම අසරණ දරුපැටියාට, පණ දූන මැනවි........


90 ශ්‍රමණය, සියල්ල නිත්‍යයි, සදකාලිකයි.
91 බ්‍රහ්මය, සියල්ල නැසෙනසුලු යි. ඔබගෙ අදහස වැරදියි. මරණය නියතයි....

92 දුප්පත් පොහොසත් සැමට එක සේ සැලකූ බුදුන් වහන්සේට, අම්බපාලි නම් ගණිකාව, ඇයගේ අඹවනය පූජා කළ අතර ඕ බුදුසමය ද, වැලඳ ගත්තා ය.....




94 බුදුන්වහන්සේ ගේ ගුණ මහිමය කොතරම් ද යත් ,උන්වහන්සේ ගිලන් වූ විටක දී ,සක්දෙව් රජු ද ,සියතින් ම උන්වහන්සේට උවටැන් කළ වගයි.






96 අගසවු සැරියුත් තෙරණුවෝ බුදුන් ගේ පිරිනිවීමට හයමසකට පළමුව, අපවත් වූහ.

97 අගසවු මුගලන් තෙරණුවෝ ද, බුදුරජාණන් වහන්සේට පළමුව, අපවත් වූහ.......




99. බුදුන් වහන්සේ වෙත පැමිණි මාරයා...බුදුන්ට පිරිනිවන් පෑමට කල් බව දැන්වීය.........





101.

මාරයාගේ ආරාධනය අනුව, බුදුරජාණන් වහන්සේ ආයුසංස්කාරය හළ කල්හි මහපොළොව කම්පා විය.අහස ගුගුරා ගියේය.මහ වැසිදහරා ඇද හැළිණ.

102 පන්සාලිස් වසරක් මුළුල්ලේ සියලු සතුනට සෙත් සුව සලසනු සඳහා මුළු දිවිය කැප කළ, බුදුරජාණන් වහන්සේ තමආයු සංස්කාරය හළ මොහොතෙහි, බුද්ධත්වය ලැබූ දිනයේ මෙන්, ෂඩ් වර්ණ බුද්ධ රශ්මියෙන් මුළු ලොව ම ඒකාලෝක විය............



103. බුදුන්වහන්සේගේ ඥාතීන් වූ, ප්‍රජාපතී ගෝතමී තෙරණිය ද, යසෝධරා තෙරණිය ද, රහල් - තෙරණුවෝ ද, බුදුන්වහන්සේට පෙර අපවත් වූහ.



104. බුදුන්වහන්සේ ට අන්තිම දනය පිළිගන්වන ලද්දේ චුන්ද නම් කර්මාර පුත්‍රයා විසිනි.මෙම අන්තිම දනයෙහි සහ සුජාතාවගේ කිරිපිඩු දනයෙහි ද, අනුසස් එක හා සමාන බව බුදුහිමියෝ පැවසූහ.



105 තෙ මසක් ගත විය....පිරිනිවීම සඳහා බුදුන් වහන්සේ කුසිනාරා නුවරට වැඩම කළ සේක...
"**පරිපක්බො වයො මයිහං- පරිත්තං මම ජීවිතං පහාය වො ගමිස්සාමි- කථංතෙ සරණමත්තනො**



106 බුදුන් කුසිනාරා නුවරට වඩිනා ගමනේ දෙවියෝ බුදුන්වහන්සේ ට හරසර දැක්වීමට රුස් වූහ. ඔව්හු, දිව බෙර වැයූහ. මල් වැගිර වූහ.



107 ආනන්දය, නාඬන්න ශෝක නො කරන්න. සියලු ප්‍රිය මනාප දෙයින් වෙන්වීම සොබා දහමෙක. සියලු දම් අනිසැය, මා එය කලින් කියා ඇත. ඔබ මට බොහෝ කලක් හිතවත්ව උවටැන් කළෝය. දැන් නොපමාව බවුන් වඩා රහත්වන්න.



108. රුස් ව සිටි භික්ෂූන් ඇමතූ බුදුරජාණන් වහන්සේ මෙසේ පැවසූහ. "මහණෙනි, බුදුන්, දහම්, සඟුන් යන තුනුරුවන් කෙරෙහි හෝ ප්‍රතිපත්ති පිළිබඳ ව හෝ යම් ප්‍රශ්නයක් නගන්නට ඔබට ඇත්නම් දැන් ප්‍රශ්න කළ මැනැව්. මා ජීවත් ව සිටිය දී මේ ප්‍රශ්න නිරාකරණයට බැරි විණැ යි දුක් මුසු නො වුව මැනවි." තුන් වරක් ම මෙසේ කියූ බුදුහිමියෝ මෙසේ පැවසූහ.



තිමි.

"හන්ද දනි භික්ඛවෙ ආමන්තයාමි වෝ,
වයධම්මා සංඛාරා අප්පමාදෙන සම්පාදේථ".
මහණෙනි, මම ඔබ ,කරුණා පෙරදැරිව
අමතමි. මේ සියලු සංස්කාරයෝ නැසෙන
සුලුය. එහෙයින්, සිහිනුවණින් යුතුව සියලු
කටයුතු කරවු..........

"අනිච්චා වත සංඛාරා
උප්පාද වය ධම්මිනෝ
උප්පජ්ජිත්වා නිරුජ්ඣන්ති
තේසං වූපසමෝ සුඛෝ."

# සෝපාක

සෝපාක, රජගහ නුවර සැඩොල් කුලයට අයත් පවුලෙක උපත ලැබීය. ඔහුගේ පියා, ළදරු වයසේ දීම, මිය ගිය හෙයින්, ඔහු ගේ මව නැවත විවාහ වූවාය. දවසක්, සෝපාක සුළු පියා ගේ පුතා සමග දබර කර ගැනීම ගැන සුළු පියා තදින්ම කෝප වී, සෝපාක අමු සොහොනකට ඇද ගෙන ගොස්, මළ මිනියකට තබා බැඳ තබා, ආවේය.

රෑ බෝවනවාත් සමගම, සෝපාක බිය වූයේය. බියෙන් තැති ගත් සෝපාක, ඔහු මුදන ලෙස ඉල්ලමින්, මොර දෙමින් ඉකි බිඳිමින් හැඬුවේය. හදිසියෙන්ම වාගේ ඔහු සිටි තැනට සුදෝ සුදූ රැස් දහරක් වැටිණ. ඔහු සනසන සන්සුන් බසක් ඔහුට ඇසිණ. " පුත සෝපාක, බිය නො වන්න. මම ඔබ බේරා ගනිමි.

එසේ හඩ නැගුවෝ බුදූ හිමියෝය. ඔහු ගේ අසරණ තතුව දැක එයින් ඔහු මුදන්නට බුදූහිමියන් සැරසුණු සැටියි ඒ. තමන් වැඩ සිටි දෙව්රම් වෙහෙරට එන්නට උදවු වන පරිදි, බුදූහිමියෝ නැවතත් රැස් දහරක් එවූහ. දෙව්රමට සුවසේ ගිය සෝපාක බුදූහිමියන් පාමුල දණින් වැටි වැන්දේය. බුදූහිමියෝ ඔහුට බණක් වදාළහ. එදම් දෙසුමෙන් පසුව සෝපාක සෝවාන් ඵලයෙහි පිහිටියේය .

ඉන් පසුව සෝපාකගේ මව තම පුතු සොයා ගත නොහැකිව, මහත් දූකට පත්ව ඔහු සොයා ගැනිමට උදවු පතා, දෙව්රම් වෙහෙරට පැමිණියාය. දූකින් මිදිමට තිවන් මග සොයනු මිස, තම දරුවන් - නෑදෑයන් ගැන සෙවිමෙන් කිසිම පලයක් නොලැබිය හැකි බව, බුදූ හිමියෝ ඇයට පැහැදිළි කළහ. ඒ බණ දෙසුමෙන් සෝපාකගේ මවද, සෝවාන් ඵලයෙහි පිහිටියාය. සෝවාන් ඵලයෙහි පිහිටා සිටි සෝපාක ද ඒ බණ දෙසුමෙන් පසුව රහත් ඵලයෙහි පිටියේය. ඒ වන විට ඔහුගේ වයස අවුරුදූ හතකි.

# නන්ද කුමරු

නන්ද කුමරු බුදුන්ගේ සුළු මව වූ ප්‍රජාපතී ගෝතමීයගේ පුත්‍රාය. නන්ද කුමරුගේ විවා මගුල් උළෙල පැවැත්වෙන දිනයෙක බුදුහිමියෝ පිඬු සිගා වඩනා ගමනේ නන්ද කුමරුගේ නිවසට වැඩියහ. බුදු හිමියෝ නන්ද කුමරුට පාත්‍රය දී, ඔහුට සුබ පතා හුනස්නෙන් නැගී පාත්‍රය නොගෙන නිවසින් නික්මුණාහ. බුදුන් කෙරේ හරසර පෙරටුව පාත්‍රය ගන්නැයි, නන්ද කුමරු බුදුනට පෙරත්ත නො කළේය. බුදුන්, දැන් දැන් පාත්‍රය ගනිතියි යන පැතුමින් නන්ද කුමරු බුදුන් පසු පස ගියේය. බුදු හිමියෝ පාත්‍රය නොගෙනම වැඩියහ. " නන්ද වහාම ආපසු එන්නැයි " සඳලු තලයේ සිට තම පෙම්වතිය පැවසූ බස් ඔහුගේ සිතේ රැව් දෙමින් ඔහුගේ සිත පෙළන්නට විය.

දෙව්රම් වෙහෙරට වැඩිය පසුව, පැවිදි වන්නට කැමති දැයි බුදුහු නන්ද කුමරුගෙන් විමැසීය. බුදුන්ගේ ඉල්ලීමට " බැහැ" යි යනු කියන්නට අකැමැති වූ නන්ද කුමරු, පැවිදි වන්නට කැමැත්ත පළකෙළේ ය. පැවිදි බිමට ඇතුළත් වූ පසුව, නන්ද කුමරු ඉතා නොපහන් සිතින් පෙම්වතිය ගැනම සිතමින් කල් යැවීය. නන්දගේ සිත් හසර සපුරා වටහාගත් බුදුහිමියෝ, ඔහු නිවැරැදි මගට ගන්නට සුදුසු සැලැස්මක් ගැන සිතූහ.

දිනක් බුදු හිමියෝ නන්ද කුමරුට සුර ලොව සුරඟනන් දක්වන්නට, යන ගමනේ, එක්තරා හේනක හොඳටම දැවීගිය වැඳිරියක් දැක්කූහ. සුරලොවේ රූමත් සුරඟණන් දුටු නන්ද කුමරුට සිය පෙම්වතිය - ජනපද කල්‍යාණිය පෙනුණේ, අර හේනේ දැගිය වැඳිරිය පරිද්දෙනි. තමන් විසින් දෙන ලද උපදෙස් පරිදි නොපසුබටව උත්සාහ කළහොත්, සුරඟණන් ලබා දිය හැකි බවට බුදුහු පොරොන්දු වූහ. සුරඟණන් ලැබීමේ බලවත් ආසාවෙන් නන්ද කුමරු ද ඊට එකග විය. මේ පුවත ඇසූ අනෙක් පැවිද්දෝ නන්ද කුමරුට සරදම් කළහ. එයින් මහත් ලජ්ජාවට පත් වූ නන්ද කුමරු, නොපමාව මහත් සැලකිල්ලෙන් පැවිදි පිළිවෙත් සපුරා එහි ප්‍රතිඵලයක් වශයෙන් රහත් ඵලයෙහි පිහිටියේ ය.

# ආලවක

ආලවක කැලෑ ලෙනෙක වාසය කළ යකෙකි. දිනක් උදෑසන මහ කුලුණු සමවතට සම වැදුණු බුදුහිමියනට අලව් යකුට බිලි දෙන්නට සිටින, කුමරුවා පෙනිණ. ඒ කුමරු බිලි පුදෙන් මුදවා ගන්නට හැකි වුවහොත්, ඔහු අනාගාමී ඵලයෙහි පිහිටුැ ත්නට හැකි බව පෙණින. ඔහු එයින් වලක්වන්නට බුදුහිමියෝ අලව් - ලෙන ලා පිටත් වූහ. ආලවක යකා එහි නොවීය. ආලවක ලෙනේ රැ ගතකරන්නට බුදුහිමියෝ ගදුභ නමැති දොරටුපාලයාගෙන් අවසර පැතූහ.

අලව් යකා හිමවත් පෙදෙසේ යකුන්ගේ සමුළුවට ගොස් ඇති බවත් රැයක් මෙහි රැදී සිතීමටවත් නොසිටිය යුතු බවත්, ඔහු දෙමව්පියන් හටවත් ගරු සරු නොකරන ඉතා බිහිසුණු තැනැත්තකු බවත් හෙතෙම පැහැදිළි කෙළේය. බුදුන් නැවත නැවත පෙරැත්ත කරන විට ඒ බව තමා අලව් යකුහට වහාම දැන් විය යුතු බව පවසා, හෙතෙම ලහි- ලහියේ හිමවත් පෙදෙස බලා පිටත් වී ගියේය. බුදුහිමියෝ අලව් - ලෙනට ඇතුළුව ආලවක ආසනයෙහි වැඩ සිටියෝය. එහි සිටි ලලනාවෝ බුදුහිමියන් වැද බණ අසනු සඳහා එකත්පස්ව හිඳ ගත්හ.

අලව් - ලෙනට බුදුන්වහන්සේ වැඩිය පුවත දොරටුපාලයා මගින් දැන ගත් අලව් යක් තෙමේ කෝපයෙන් ඇවිසී, ඔහු වහා ලෙන කරා දිව ගියේය. එසේ යන ගමනේ දී, බුදුන් වහන්සේ ඒ ලෙනට වැඩිය නිසා ඔහු කරා උදා වූ මහත් වාසනාව ගැන යක්කු දෙදෙනෙක් ඔහුට සුබ පැතූහ. මේ දෙදෙනා යක් සමුළුවට යන ගමනේ අලව් - ලෙනේ වැඩ සිටි බුදුන් දැක නමස්කාර කළහ. මේ පුවත ඇසීමෙන් අලව් යකා වැඩියක්ම කෝපයෙන් ඇවිසී ගියේය. ලෙනට ඇතුළු වූ කෙණෙහිම එයින් පිටව යන ලෙස හෙතෙම බුදුනට අණ කෙළේ ය.

බුදුහිමියෝ ඉතා නිහඬව ඔහුගේ ඉල්ලීම ඉටු කළහ. තමාගේ අණට කීකරු වූ බුදුහිමියන් බලා, හෙතෙම තමා ගේ බලපුළුවන්කාරකම ගැන උදම්ව, නැවත ඇතුළට එන්නැ යි බුදුනට අණ කෙළේ ය. බුදුහිමියෝ පෙර සේම ඉතා නිහඬව ඒ ඉල්ලීම ඉටු කළහ. තමාගේ අණට කීකරු වූ බුදුහිමියන් බලා හෙතෙම තමාගේ බල පුළුවන් කාර කම ගැන උදම්ව නැවත ඇතුළට එන්නැයි බුදුන් වහන්සේට අණ කෙළේය.

බුදුහිමියෝ පෙර සේම ඉතා නිහඬව ඒ ඉල්ලීම ඉටු කළහ. තුන් වන වරද අලව් යකු කළ ඉල්ලීම බුදුහිමියෝ ඉටු කළහ. සතර වන වාරයේදී බුදුහිමියෝ, " ඉතින් ඇති යහළුව, මම මෙයින් පිටව නොයමි" ඔබට කළ හැකි ඕනෑම දෙයක් දැන් කළ හැකියි." යනුවෙන් බුදුහිමියෝ කියා සිටියහ. " මම ඔබෙන් පැනයක් අසමියි අලව් යකා කීය. එයට පිළිතුරු දීමට නො හැකි වුව හොත් මම ඔබගේ සිත අවුල් කරමි. නැත් නම් ඔබේ හදවත පළා ලමි, ඔබ දෙපයින් ගෙන ගඟින් එහා විසිකර දමමි " කීය. " යහළුව, මගේ සිත කලඹා අවුල් කරන්නට හෝ හදවත් පළා පියණන්ට හෝ, දෙකකුලින් ගෙන ගඟින් එහාට විසිකරන්නට හෝ සමත් ජගතෙක් නම් මේ මුළු ලොවේම නැත. එය කුමක් වුවත්, ඔබට පැනයක් නගන්නට ඇත් නම් එය කළ මැනැව්" යි බුදුරජාණන් වහන්සේ ඔහුට කී සේක.

බුදුන්රජාණන් වහන්සේ ගෙන් ආලවක පැන නැගුයේ පද්‍යයෙනි. ආලවකගේ දෙමවුපියන් කසුප් බුදුන් ගෙන් මේ පැන ඉගෙන, එහි තේරුම ද ආලවකට හොඳින් උගන්වා තුබුණු නමුත්, ආලවකට ඒ පැන මතකයේ රැදී තිබුණත් ඒ පැනවලට දෙන ලද පිළිතුරු

ඔහුගේ මතකයෙන් ඇත්වී තිබිණ. ඒ හැම රන් පත්ඉරුවල ලියා, හොඳින්ම පරිස්සම් කැර තබා තිබුණු නිසා ඒ හැම සුරැකිණ.

පැනය:-

මිනිසාගේ උසස්ම දනය කුමක් ද?. මැනැවින් පුරුදු පුහුණු කරන ලද කුමක් සුව එළවා ද?. සියලු රස අතුරින් මිහිරිතම රසය කුමක් ද?. හොඳම දිවි පැවැත්ම කුමක් ද?.

පිළිතුරු :- " මිනිසකු ගේ හොඳම දනය සැදැහැ බැතියයි. මැනැවින් පුරුදු පුහුණු කරන ලද දහම සුව එළවයි. ඇත්ත මිහිරි තම රසයයි. හොඳම දිවි පැවැත්ම නුවණින් දිවි පැවැත්මයි.

පැනය:-

ජල ගැල්මෙන් එතෙර වන්නේ කෙසේ ද?. මුහුදින් එතෙර වන්නේ කෙසේ ද?. දුක මැඩ ලන්නේ කෙසේ ද?. කෙනකු පිරිසිදු වන්නේ කෙසේ ද?.

පිළතුරු :- "ආත්ම විශ්වාසයෙන් ජල ගැල්ම තරණය කළ හැකිය. නොපමාවෙන් මුහුදු තරණය කළ හැකිය. නොපසු බට වීර්යයෙන් දුක මැඩ ලිය හැකිය. නුවණින් කෙනකුට පිරිසිදු විය හැකිය.

පැනය :- නුවණ ලබා ගන්නේ කෙසේ ද?. දනය ලබා ගන්නේ කෙසේ ද?. කීර්තිය ලබා ගන්නේ කෙසේ ද?. යහළුවන් බැඳ හිඳින්නේ කෙසේ ද?.

මේ හැමට පිළිතුරු දෙන බුදුහිමියෝ, අප්‍රමාද බුද්ධිමත් පුද්ගලයන් නිවන් මගට මං පාදලන රහතුන්ගේ දහම් අසා ප්‍රඥාව ලබන බව කීය. යහපත් දැහැමි මාගී මගින් වැයම් කරන තැනැත්තා දනය ලබන බවද, සත්‍යයෙන් කීර්තිය ලැබෙන බව ද, ත්‍යාගශීලි වීමෙන් යහළුවන් බැඳෙන බව ද, එතුමෝ පැවසූහ. සැදැහැවත් තැනැත්තා සත්‍යය සීලාදි මනා ගුණාංග, ධෛර්යය, විමුක්තිය, ආදියෙන් සමන්විත තැනැත්තා මරණින් පසු දුක් නොවන බවද බුදුහිමියෝ පැවසූහ.

ආලවක නැගු සියලුම පැන විසඳා වදාළ බුදුහිමියෝ, එයින් තමා සැහිමකට පත් වුයේ නැති නම් සැකයට තුඩු දුන් තවත් යම් දෙයක් ඇත් නම් අනෙක් ආගම් කතුවරයන් ගෙන් ඒ පිළිබඳව විමසා බැලිය හැකි බවද පැවසූහ.

මහසොම්නසින් ඉපිලී ගිය ආලවක යකා බුදුන් පැන විසඳූ ආකාරයෙන් මහත් සෑහීමකට පත් වූ වග කළ ගුණ පෙරටුව පළකොට සිටියේය. බුදුන් වැඳ තිසරණයෙහි පිහිටි, ආලවක යකා දිවි හිමියෙන් බුදුන් සරණ ගිය සැදැහැ බැති ඇති උපාසකයෙක් විය.

# පෙහෙර දූව

බුදුරජාණන් වහන්සේගේ දම් දෙසුමෙකින් පසුව, මිනිස් දිවිය අනියත බවත්, මරණය නියත බවත්, දැන ගන්නා විට, පෙහෙර දූව ගේ වයස අවුරුදු දහසයකි. ඒ අවදියේම වාගේ, බුදුහිමියන් ගේ උපදෙස් පරිදි තිලකුණු මෙනෙහි කරන භාවනාව හැමදම පුරුදු පුහුණු කළ යුතු බව, ඇයට වැටැහිණ. ඊ ළග අවුරුදු කීපය මුළුල්ලේම, දිවා රෑ දෙක්හිම ඕ (අනිස, දුක, අනත්,) යන තිලකුණ බවුන් වැඩුවාය.

දවසක් මහා කරුණා සමාපත්තියට සමවැදි කවරකුට හිත වැඩ සැලසිය යුතු දැයි, දිවැසින් ලොව බලා වදරන බුදුහිමියනට, බුදුදහම තේරුම් ගැනිමට පෙහෙර දූවගේ සිත හොදට ම සූදනම් බව වැටැහිණ. ඒ අනුව, ඇය සොයනු සදහා බුදුහිමියෝ පිටත් ව ගියහ. ඒ පුරවරයට බුදුහිමියන් සැපත් වන බව දැන ගත් ඕ, සතුටින් ඉපිලී වහාම ගොස් බුදුනට හරසර දක්වන්නට සිතුවාය. එහෙත් ඒ මොහොතේ,පියාගේ පණිවිඩයක් රැගෙන යන්නට ඇට සිදුවිය. නොකැමෙත්තෙන් එය බාර ගත් නමුත් බුදුහිමියන්ගේ දම් දෙසුම ඇසීමට ඇයට පමාවන්නට සිදුවන බව පෙනිණ.

ඉක්බිති බුදුහිමියෝ, දහවල් දන් වළඳ, දහම් දෙසුම සදහා හිඳ ගත්හ. පිරිස අතර, පෙහෙර දූව නැති බව දැන ගත් බුදු හිමියෝ "මා මෙහි පැමිණියේ එක්තරා මෙනෙවියක කෙරේ අනුකම්පාවෙනි. ඈ තවමත් පැමිණ නැති නිසා, ඈ මෙහි පැමිණි වහාම මම දම් දෙසුම පටන් ගනිමි".

අවසන ඒ මෙනෙවිය ඇගේ කටයුතු හමාර කොට තම පියාගේ වැඩපළට යන්නට පටන් ගත්තාය. එසේ යත්ම බණ අසන්නට පැමිණ පිරිස පියමං කොට ගොස්, ඕ බුදුන් ගේ දිහාව බලා සිටිවනම සිටියාය. බුදුහිමියෝ ද හිස ඔසවා ඈ දෙස බැලූහ. බුදුහිමියන් ඈ දෙස බැලූ ආකාරයෙන්ම තමාට කතා කිරිමට බුදුන්වහන්සේ සැරසී සිටින බවත්, උන්වහන්සේ එහි පැමිණ ඇත්තේ තමා නිසා අනුකම්පාවෙන් බවත් ඇයට වැටැහිණ. ඇයගේ මරණය ඉතා ළංව ඇති බවත්, ඇයට දම් නො දෙසුව හොත් ඇයගේ ඊළග උපත කුමක් විය හැකි දැයි, කිව නො හැකි වන බවත් බුදුහිමියනට ඒ මොහොතේම වාගේ පෙනී ගියේය. එහෙත් ඈ බුදුන්වහන්සේගේ දෙසුමට සවන් දුනහොත්, කිසියම් ලොව්තුරු ඵලයක් ලබා තුසිත දෙව් ලොව යළි උපදනා බව බුදුහිමියනට දැනිණ.

පෙහෙර දූව බුදුන් ළගට පැමිණියාය. එවිට බුදු හිමියෝ ඇයගෙන් මෙසේ විමසූහ.

" මෙනෙවිය ඔබ කොහි සිට ද?

" මම නො දනිමි හිමියෙනි.

" ඔබ කොහි යනවා ද?

හිමියෙනි, මම නො දනිමි.

" ඔබ දන්නේ නෑ" ?

" මම දනිමි හිමියෙනි"

ඔබ දන්නවා?.

මම නො දනිමි හිමියෙනි,

බුදුන්වහන්සේට සුදුසු පරිදි පිළිතුරු නොදීම ගැන එහි රැස්ව සිටි මහ පිරිස උරණ වූහ. " ඔබ කොහි සිට දැයි " බුදුන්වහන්සේ නැගූ පැනයට, " වියන්නාගේ ගෙදර සිට" යනුවෙන් ද - "කොහි යන්නේදැ"යි ඇසූ විට " වියන්නාගේ වැඩ පොළට යනුවෙන්ද පිළිතුරු දිය යුතුව තිබිණැයි ඔහු හැමදෙනම ඒකමතිකව සිතූහ. නැගූ පැන සියල්ලටම පිළිතුරු සපයන ලෙස බුදුහිමියෝ ඒ පෙහෙර දූව ගෙන් ඉල්ලා සිටියහ.

බුදුහිමියෙනි, මගේ පියා ගේ වැඩ පොළේ සිට මා පැමිණෙන බව ඔබ දැන ගත් නිසා - " ඔබ කොහි සිට දැ" යි ඇසූ විට, මෙහි උපදින්නට පෙරාතුව, ඔබ උපත ලබා සිටියේ කොහි දැයි යනු වෙන් ඔබ අදහස් කළ නිසා, එය මම නො දනිමියි කීවෙමි. " ඔබ යන්නේ කොහේ දැයි ඔබ ඇසූ විට, මරණින් පසු මා උපදින්නේ කොහේ දැයි ඔබ අදහස් කළ නිසා, ඒ පැන දෙකටම මා නොදන්නා බවම මම පළ කෙළෙමි.

ඉතා පැහැදිලිව පිළිතුරු දීම ගැන බුදුහිමියෝ ඇයට පැසසුම් කළහ. ඉන් පසුව බුදුහිමියෝ ඇය ගෙන් මෙසේ ඇසූහ. " ඔබ දන්නේ නැද්ද" යනු වෙන් මා පැනයක් නැගූ විට, " මම දනිමි යි ඔබ කී යේ ඇයි ද?. "ඔබ දන්නවා යනුවෙන් මා පැනය නැගූ විට," "මා දන්නේ නැතැයි ඔබ කීයේ කුමක් හෙයින් ද?.

බුදුහිමියෙනි, "මම දනිමියි" මා කීයේ, නියත වශයෙන්ම මා මැරෙන බව දත් නිසාය. "මා දන්නේ නැතැයි කීයේ "එය කවර දවෙසෙක එළඹේ දැයි මා නොදත් නිසාය. සියලු පැනවලට නිවැරදි පිළිතුරු සැපැයීම පිළිබඳව බුදුහිමියෝ පෙහෙර දූවට පැසසුම් කළහ,

කරුණු වරදවා ගත් එහි සිටි පිරිසට බුදුහිමියෝ එසේ නොකරන්නට උපදෙස් දෙමින් මෙසේ වදළහ.

" විහගුන් කදැල්ලෙන් පිට වී යන ලෙසට
සුළු පිරිසකි වඩින්නේ ඒ සුර ලොවට
එලෙසින් මෙ ලොව සිටිනා වැඩි පිරිස හට
නුවණක් නො මැත-ඇත්තේ සුළු පිරිස කට"

ඒ බණ දෙසුමෙන් ඕ දහම් ඇසීමේ පලය ලබා ගත්තා ය. එ දිනම ඕ රෙදි විවීම සඳහා නූල් කටින යන්ත්‍රයේ, තියුණු තුඩක් ඇනීමෙන් අනතුරට පත් ව කලුරිය කොට තුසිත දෙව් ලොව උපන්නා ය.

# අංගුලිමාල

අංගුලිමාල කොසොල් රජතුමා ගේ පුරෝහිත බමුණාගේ පුතාය. ඔහු හැඳින්වුණේ"අහිංසක යන නමිනි". ඔහු වැඩි වියට පැමිණි පසු ඉගෙනීම සඳහා හෙතෙම තක්සලා සරසවියට ඇතුළුවිය .ඉතා සමත් ලෙස ඉගෙනීමෙහි යෙදුණු අහිංසක කුමරුවා කෙරේ අනෙක් ශිෂ්‍යයෝ මහත් ඊර්ෂ්‍යාවකින් පසු වූහ. අහිංසකටවිරුද්ධව නොයෙක් ගතුගොතා කීමේ සමත් අනෙක් ශිෂ්‍යයෝ අහිංසක දිසාපාමොක් ඇදුරු තුමන්ගේ බිරින්දෑ සමග නොමනා අයුරින් හැසුරුණු බවක්, දිසාපාමොක් ඇදුරු තුමන්හට දන්වා සිටියහ.

එකල සිරිත අනුව ඉගෙනිම සඳහා ශිෂ්‍යයකු ගෙන් මුදලක් අය කැරිණි. කරන ලද නොමනා ක්‍රියාවට දඩුවමක් වශයෙන් දකුණු අතේ මාපටඇඟිලි 1000ක් ඊට වන්දි වශයෙන් දිමට අහිංසකට සිදුවිය. බලවත් සේ කම්පනයට පත් අහිංසක සිය ඇදුරුපාණන් එයින් වළක්වන්නට මහත්සේ උත්සාහ කළත්, ඔහු ගේ අණ නිසි පරිදි නො පිළිපැද්දොත් ඔහු මහත් සාපයට ලක් වන බවත් ඇදුරු තුමන් ගෙන් දැන ගන්නට ලැබිණ. කළ යුතු අන් කිසිවක් නැති හෙයින් ඉතාම නොකැමෙත්තෙන් අහිංසක අසිපතක් ගත් අත් ඇතිව, මිනිසුන් මරා ඇඟිලි කපා ගන්නට මහ වනයට වැදුණේ ය.

වැඩි කලක් යන්නට මත්තෙන් හෙතෙම මුළු පෙදෙසම බියෙන් ඇළලී ය. ඔහු විසින් මරනු ලබන මිනිසුන් ගේ ගණන ගණන් ගැනිම සඳහා, හෙතෙම කපන ලද ඇඟිලි අමුණා මල් මාලාවක් කොට කරේ පලදින්නට පටන් ගත්තේය. එතැන් පටන්, ඇඟිලි මාලයක් කරලූ හෙයින් අහිංසක අංගුලි මාල යන අලුත් නමින් පතළ විය. එරට රජතුමා හට අංගුලිමාල පිළිබඳ පුවත සැල වි ඔහු වහාම අල්ලා ගැනීමට උවමනා විය. මේ බව ඇසූ අංගුලිමාල ගේ මව තම පුතු එයින් වළක්වා ඔහුගේ ජීවිතය බේරාගැනීමට හුදෙකලා වම කැලෑ වදින්නට සිතුවාය. මේ වන විට, දහසක් ඇඟිලි සපුරා තමා ගේ දූත මෙහෙවර මුළුමනින් මුදුන්පත් කරන්නට තව ඇත්තේ එකම ඇඟිල්ලක් නිසා, අංගුලිමාල ඒ ඇඟිල්ල කපා ගන්නට කෙනකු සොයමින් බලවත් නො ඉවසිල්ලෙන් සිටියේය.

එදින උදසනම මහා කරුණා සමාපත්තියට සම වැද, දිවැසින් ලොව බලා වදරන බුදුහිමියනට, මේ අත් බවයේම රහත් පල ලබන්නට මහත් කුසල බලයක් ඇති අංගුලිමාල පෙනිණ. එසේ ද වුවත් සිය මෑණියන් මරා දැමුව හොත්, නරකයේ කප් ගණන් පැසෙන බලවත් අකුසලයක් කරගන්නට මං පෑදෙන බවත්, එහෙයින්ම රහත් ඵලය ගිලිහී යාහැකි බවත්, දුටු බුදුහිමියෝ ඔහුට පිහිට වන්නට සිතූහ. අවසන් ඇඟිල්ල කපා දූත මෙහෙවර සපුරන්නට තම මව

මේ අත් බවයේම රහත් පල ලබන්නට මහත් කුසල බලයක් ඇති අංගුලිමාල පෙනිණ. එසේ ද වුවත් සිය මෑණියන් මරා දැමුව හොත්, නරකයේ කප් ගණන් පැසෙන බලවත් අකුසලයක් කරගන්නට මං පෑදෙන බවත්, එහෙයින්ම රහත් ඵලය ගිලිහී යාහැකි බවත්, දුටු බුදුහිමියෝ ඔහුට පිහිට වන්නට සිතූහ. අවසන් ඇඟිල්ල කපා දූත මෙහෙවර සපුරන්නට තම මව මරන්නට අංගුලිමාල අර අදිමින් සිටිය දි ඔහු එන පෙර මගට වැඩ ඔහු එයින් වළක්වන්නට බුදුහිමියෝ මං පෑදූහ.

සිය අසිපත අමෝරා ගත් හෙතෙම, බුදුන් ලුහුබැඳ ගත්තේය. අංගුලිමාලට තමා ළගට ළං නොවන්නට බුදුහිමියෝ අදිටනක් කළහ. නිවි සැනැසිල්ලේ සන්සුන් පියවි ගමනින් වඩනා බුදුන්වහන්සේ අසලකටවත් ළංවන්නට නුපුළුවන් වු හෙයින් මහත් විමතියටත් සන්තාපයටත් පත්ව "සිටුව මහණ, සිටුව මහණැ"යි මොර දුන්නේය. ඔහු දෙසට හැරුණු බුදුහිමියෝ "මා හිටල, ඔබ තමයි හිටල නැත්තේ" යනුවෙන් පැවසූහ. එහි සිට ගත් අංගුලිමාල ඒ කියමන තෝරාගත නො හැකිව එය තෝරා දෙන ලෙස ඉල්ලා සිටියේ ය. "අංගුලිමාල මා කිසිම කෙනකුට කිසිම කලෙක කිසි ම හානියක් කොට නො මැති හෙයින්, අකුසල් කොට නැති හෙයින්, මේ දූක් දෙන සසරේ තවත් නො සිටිමි. අපමණ සතුන් ගේ ජීවිතවලට ඔබ බලවත් හානි පමුණුවා ඇති හෙයින් ,දූක් දෙන සසරේ තව තවත් දූක් විදිමින් නැවතී සිටින්නට ඔබ මං පාදා ගෙන ඇත. එසේ නැති හෙයින්, මම අජරාමර නිවන්හි සිටිමි.

බුදුහිමියන් කී දෙය වහා වටහාගත් අංගුලිමාල තම අත තිබූ අවි පසෙකට දැමිය. බුදුහිමියන් ගේ පාමුල වැටී තමා පැවිදි කරන ලෙස අංගුලිමාල බුදුන්වහන්සේ ගෙන් ඉල්ලා සිටියේය. බුදුහිමියන්ගේ සිරි මුවින්" එව මහණැයි" යන වදන් නිකුත් වනවාත් සමගම අංගුලිමාල පැවිදි වෙස් ගත්තේය. බුදුහිමියෝ අංගුලිමාල තෙරුන් කැටිව අරමට පැමිණියෝය.

පැවිදි බිමට ඇතුළත් වුවාට පසුව, අංගුලිමාල තෙරුන් ගේ ජිවිතය ලෙහෙසි පහසු එකක් නොවිය. පිඩු සිගා වඩනා අංගුලිමාල තෙරුන් දුටු, තමන් ගේ අඹු දරුවන් නෑ දැයන් නැතිව ගිය මිනිස්සුන්ගේ පහරට අංගුලිමාල තෙරහු ලක් වූහ. අංගුලිමාල තෙරුන් පිඩුසිගා අවසන ආපසු අරමට වැඩියේ ලේ පෙරා ගෙනය. තමා මුලදි කරන ලද දරුණු අකුසල්වල පල දැන් ඇස් පණා පිට පල දෙන හෙයින් එය ඉවසන ලෙස බුදුහිමියෝ ඔහුට උපදෙස් දුන්හ.

දිනක් පුරුදු පරිදි පිඩු සිගා වඩනා අංගුලිමාල තෙරුන්හට විළි රුදු පහරන් මිරිකී, දූක්විදිනා ළදක් දක්නට ලැබිණ. බලවත් කරුණාවෙන් තෙත් ව ගිය හදවත් ඇති අංගුලිමාල තෙරණුවෝ එ පවත් බුදුන්වහන්සේට සැල කළහ. බුදුන්වහන්සේ අංගුලිමාල තෙරුන් හට අංගුලිමාල පිරිත ඉගැන්වූහ. " නැගනිය, මම ආර්යය කුලයේ උපත ලදදා සිට හිතා මතා කිසිම සතකු ගේ දිවි තොර නොකළෙමි. මේ සත්‍යයෙන් ඔබට ද ඔබේ කුසේ හිදූනා බිලිදු හටද සෙත් සුව අත්වේවා" අංගුලිමාල තෙරණුවෝ, මේ පිරිත ඉගෙන ගෙන විළි රුදුවෙන් පෙළෙමින් සිටි ලලනාව ළගට ගොස් ඉහතකී සත්‍ය වචනයෙන් පිරිත් කළහ. ඒ ළද කිසිම අපහසුවකින් නො පෙළී සුවසේ බිලිදු බිහි කළාය. මද කලෙකින් අංගුලිමාල තෙරණුවෝ රහත් ඵලයෙහි පිහිටියහ.

එතැන් පටන් අංගුලිමාල පිරිත ගැබ්ගත් ගැහැනුනට මහත් සුව පහසු සලසන කල්පයක් පවත්නා අනුසස් පිරි පිරිතක් විය.

# කිසාගෝතමිය

කිසාගෝතමිය කෝටිපතියකු ගේ පුතකුගේ බිරින්දැය. දිනක් බලාපොරොත්තු නොවූ පරිදි, ඇගේ එකම බිලින්දා මිය ගියේය. දරා ගත නො හැකි දුකින් පෙළුණු ඕ දැතින් බිලිඳු ඔසවා ගෙන, හඬමින් බුදුහිමියන් වෙතට ගියාය.

"බුදුරාජාණන් වහන්ස, මගේ පුතා බේරා දෙන්න. කිසියම් ඔසුවක් දී ඔහු සුවපත් කරන්න".

" ඔව් නැගනිය, මම මගක් දනිමි, ඔබ මටත් උදවු කළ යුතුයි". ආපසු සැවැත් නුවරට ගොස්, කිසිවකු නොමළ ගෙයකින් අබ අහුරක් ගෙන එන්න, එය ඔබේ පුතාට පිළියමක්".යනුයෙන් බුදු හිමියෝ පැවසූහ .

සොම්නසට පත් කිසාගෝතමී නුවර මුළුල්ලේ ම සෙව්වා ය. තෝන්තුවාවෙන් නැති ගැන්මෙන් යුතුව , ඕ ගෙයක් ගෙයක් පාසා ගොස් " ඔබේ ගෙදර කිසිවකු මිය ගොස් ඇති ද?. එසේ නොමැති නම් මගේ බිළිදා ගේ ජීවිතය බේරා ගැනීමට අනේ මට අබ අහුරක් දෙන්න". ඈ ගිය හැම තැනෙකින්ම අසන්නට ලැබුණේ, මව, පියා, දූ, දරුවන් පුතුන්, නැතිව ගිය බවයි. කිසාගෝතමියට එයින් වැටහුණේ මිනිස් ජීවිතය මුළුල්ලේ රැදි පවතින්නේ අනියත, ස්වභාවයක් ම බවයි. උපතක් නිසා මරණයක් ඇති විය යුතු බවයි. ඕ මළ බිලිඳු සිරුර අමු සොහොනෙක දමා බුදු හිමියන් දක්නට ගියාය. බුදුහිමියෝ ඇය දැක "නැගනිය, අබ අහුරක් සොයා ගත්තා දැයි" ඇසූහ.

බුදුහිමියෙනි, " ඒ උවමනාව දැන් අහෝසිවී ඇත. හිමියෙනි, මට උදවු කළ මැනැවි. දැනට මා ඩැහැ ගෙන සිටුනා මට මහත් වේදනාව ගෙන දෙන මේ එල්බ ගැනීම මුළුමනින් ගළවා දමන්නට මට පිහිට වුව මැනැවි." ලොවේ ඇති මේ සියලු එල්බ ගැනීම්, සසරේ නැවත නැවත උපත ඇති කරන මං සලසන සැටි බුදුහිමියෝ හොඳින් පැහැදිලි කළහ. මේ ඇසූ තිසාගෝතමිය සකෘදාගාමී ඵලයට පත් වුවා ය. ඉන් පසුව මෙහෙණක වන්නට ඇය කළ ඉල්ලීමට බුදුහිමියෝ අවසර දුන්හ.

නොපසුබට වීර්යයෙන් පිළිවෙත් පිරූ ඕ, එක් රැයෙක පහනෙක ගිනිසිළු, බලා බවුන් වඩමින් සිටියදි, ලොව සියලු සංස්කාර ධර්මයන්ගේ- හේතු ප්‍රත්‍යයෙන් සැකැසුණු පිළියෙළ වුණු හැම දෙයෙහි, අනිස බව, නිතියෙන් නොපවත්නා බව මෙනෙහි කරමින් සිටියදි රහත් ඵලයට පැමිණියා ය.

# පටාචාරව

පටාචාරාව, සැවැත් නුවර විසූ කෝටිපතියකුගේ, ඉමහත් යස ඉසුරු මැද්දේ ඉතා පසුරතලෙන් ඇති දැඩි වුණු රූමත් දියණියක් වූවාය. දෙමව්පියන් විසින් පිළියෙළ කරන ලද විවා මගුලක් අත ළග තිබිය දිම පටාචාරාව නිවසේ දසයෙකු සමග හොරෙන් පැන ගියාය. ඔහු සමග ඕ දූක් කම්කටොලු වලින් පිරුණු, දරුණු වද-වේදනාවන් ගෙන් ගහණ ජීවිතයක් ගත කළාය. ඒ අතර තුරේ දි ඇයට පුතෙක් ලැබිණ.

දෙවන ගැබ්බර අවදියේදි කුස හොත් බිලිද බිහිකරන්නට ඕ දෙමවුපියන් ගේ නිවසට යන්නට බලාපොරොත්තුව සිටියාය. දෙමාපියන් බැහැ දකින්නට යා යුතු බව නිතර කියමින් ඕ තම සැමියාට ඇවිටිලි කළාය. එහෙත් ඇගේ සැමියා එය ගණන් ගත්තේ නැත. ඔහු එසේ කෙළේ ඇ එහි ගිය විට නෑයන් ගේ අතවරවලට ඇය ලක් වෙතියි යන බියෙනි. සිය සැමියා නිවසින් බැහැර යන තෙක් බලා සිට ඕ හුදෙකලාවම දෙමාපියන් ගේ නිවස බලා පිටත් වූවාය.

එහෙත් පුරුදූ වැඩපළට යන්නට පෙරාතුව සැමියාට ඇය මුණ ගැසිණ. ඇයගේ අදහසට හරස් වීමෙන් වැඩක් නැති බව ඔහුට වැටහිණ. ඒ කුමක් වූවත් ළග ළග එන බලවත් වැහි කුණාටුවෙන් වැළකී ඇට නො තෙමී සිටින්නට සෙවණක් සපයනු සදහා කැලේ එක් තැනක් එළි පෙහෙළි කරන්නට ඇගේ සැමියා යුහුසුලුය. මෙසේ කැළය හෙලි කිරිමේදි හදිසියේම වාගේ සර්පයකු විසින් දෂ්ට කරනු ලැබ මිය ගියේය. ඔහුගේ හදිසි මරණය ගැන පටාචාරාව දැන සිටියේ නැත. සැමියා එන තුරු බලා සිටි පටාචාරාව දෙවැනි බිලිද වැදූවාය.

පසු ද උදසන එළි වූවාට පසුවය ඇයට සැමියා සොයන්නට ඉඩ ලැබුණේ මළ සැමියා දැකීමෙන් බලවත් කම්පනයටත් දූකටත් පත්වූ ඕ සැවැත් නුවර තම දෙ මාපියන් දක්නට යැමට අදිටන් කර ගත්තා ය. කුණාටුවෙන් කැළඹී ගොස් දෙගොඩ තලා පිටාර ගලන නදිය තරණය කරන්නට ඕ සිතා ගත්තා ය. බිලිදූ දරුවා වඩා ගෙන අනෙක් දරුවා අතින් අල්ලා ගෙන ගගින් එ ගොඩවිම අමාරු නිසා වැඩි මහලු දරුවා ගංඉවුරේ සිටුවා, බිලිදූ දරුවා වඩාගෙන ගගින් එගොඩවී බිලින් දෑ එගොඩ ඉවුරේ තබා, වැඩි මහලු පුතා කැඳවා ගෙන එන්න ආපසු මද දූරක් එන විට කිසියම් හඩකින් කලබලව ඇ හැරී බලන විට උකුස්සකු බිලිද ඩැහැගෙන යනු පෙනිණ උකුස්සා පළවා හැරිමට ඕ දෑත් නගා හඩ නැගුවාය. එගොඩ සිටි වැඩි මහලු පුතා තමාට අම්මා කතා කරනවා යයි සිතා, ගග මැදට පැන ගෙන එනවාත් සමගම සැඩ දිය පහරින් ඔහු ගසා ගෙන ගියේය.

මිය ගිය සැමියාත් දෙදරුවනුත් වෙනුවෙන් හඩමින් වැලැපෙමින් ඕ සැවැත් නුවර බලා පිටත් වූවා ය. එසේ යන අතර මග දි, ඇයගේ දෙමාපියනුත් සොහොයුරාත් ඉකුත් රැයේ ඇද හැලෙනු මහ වැස්සෙනුත්, නැගුණු කුණාටුවෙනුත්, කැඩී බිඳ වැටුණු ගෙට යටවී මළ බවත්, ඔවුන්ගේ මළ සිරුරු දරසෑයේ දැවෙන බවත් අමුත්තකුගෙන් ඇට දැනගන්නට ලැබිණ. ඉවසා දරා ගත නො හැකි දූකින් වියරු වැටුණු පටාචාරව හඩමින් වැලපෙමින් වීදියක් දිගේ දිව යන්නට වූවාය. ඒ වේලාවේ අසල රැස්වුණු පිරිසකට බණ දෙසමින් වැඩ සිටි බුදූ හිමියෝ ඇයට එතැනට ළංවන්නට ඉඩ සැලසූහ. පටාචාරාව එතැනට ළං වත්ම " නැගනිය, බිය නො වන්න, ඔබ පැමිණ ඇත්තේ ඔබට ආරක්ෂාවත් මග පෙන්විමත් දිය හැකි කෙනකු ළගටයි. ඔබ සිහි එළවා ගන්න."

සිහි නැති ව සිටි ඇයට පියෙවි සිහිය ලැබිණ. එවිට ඇයට දැනී ගියේ තමා නිර්වස්ත්‍රයෙන් සිටිනා බවකි. මහත් ලැජ්ජාවෙන් වෙලී ගිය ඇ දුටු කෙනකු අතින් ඇයට සළුවක් ලැබිණ. ඕ සළුව හැඳ ගත්තාය. ඕ බුදුහිමියන් ගේ පාමුල වැඳ වැටී ඇයට මුහුණ දෙන්නට සිදුවූ දරුණු අනෝරයන් පිළිබඳ දුක්බර පුවත ඕ බුදුහිමියනට පැවසුවාය. බුදුහිමියෝ ඇය සනසා මිය ගිය අය වෙනුවෙන් හැඩීමෙන් වැලැපීමෙන් පලක් නොවන බව පැහැදිලි කළහ. " නැගනිය, මේ අතරක් නැති සසර ගමනේදී, තමාගේ මිය ගිය, දෙමව්පියන්, සොහොයුරන්. දරුවන් වෙනුවෙන් හෙළන ලද කඳුළුවල පමණ ඉමක් කොනක් නැත.

පරලොව ගියවුන් පිළිබඳව කනස්සලු වීමෙන් දැන් වැඩක් නැත. තමන්ගේ සිත පිරිසිදු කර ගැනීමෙන් සිත සනසා, සකසා ගැනීමෙන් ඔබට නිවන් මගට මඟ පාද ගත හැකියි. මෙසේ කියූ බුදුහිමියෝ ඇය වෙනුවෙන්ම බණක් දෙසූහ. බණ ඇසීමෙන් පසුව පටාචාරාව සෝවාන් ඵලයෙහි පිහිටියාය. පැවිදි වන්නට අවසර පැතූ ඇයට බුදුහිමියන් ගෙන් අවසර ලැබිණ. ඕ මෙහෙණි සස්නට ඇතුළු වූවාය. දිනක් කළයකින් වතුර නමා දෙපා සෝදමින් සිටි ඇයට ගලන දිය දහර කෙරේ අරමුණු නගා භාවනා කරමින් සිටිය දී, තිලකුණු මෙනෙහි කෙරෙමින් සිටි ඕ රහත් ඵලයෙහි පිහිටියාය.

# බක - බ්‍රහ්මයා

බක-බ්‍රහ්මයා හය වරක්ම බඹ ලොවේ ඉපදී ඇත. අතරක් නැති කලක්ම ඔහු බඹ ලොවම විසූ හෙයින්ද, සතුන් ගේ උපතත් මරණයත්, පිළිබඳ මතකයෙන් මුළු මනින්ම තොර වූ හෙයින්ද, සඳ කල්හිම බඹ ලොවම සිටිය හැකි යැයි හෙතෙම කල්පනා කෙළේ ය.

ඒ පිළිබඳව බක-බ්‍රහ්මයා බුදුන්වහන්සේ සමගද පුරසාරම් දෙඩුවේ ය. ගෞතම බුදුන්වහන්සේට පෙරාතුව බොහෝ බුදුවරුන් වැඩ සිටිය බවත් , ඔවුන් මිය පර ලොව ගොස් ඇති හෙයින්, ඔවුන් කොහි ගොස් ඇත්දැයි කිසිවකුටත් පැවසිය නොහැකි බව ද හෙතෙම පැවසී ය. තමා ගේ ඉගැන්වීම් අනුගමනය කළ හොත් බඹ ලොව ඉසුරුමත් ජීවිතයක් ගත කිරීමට බුදුන්වහන්සේට හැකි වන බව හෙතෙම කියා සිටියේය. බක -බ්‍රහ්ම ඇදැහිල්ලේ අඩු ලුහුඬු කම් පෙන්නා දී, ඔහුගේ වැරැදි තැන් නිවැරැදි කැර දූන් බුදුහිමියෝ, බක-බ්‍රහ්මයා සය වරක්ම බඹ ලොව උපත ලබන්නට මුල් වූ යටගිය තොරතුරු හොඳින් පැහැදිළි කැර දූන්හ.

බුදුහිමියන්ගේ බණ දෙසුමෙන් පසුව, බුදුහිමියන් දැක්වූ කරුණු ඉතා නිවැරැදි බවත්, ඒ පිළිබඳ ඉතා විසාරද දැනුමෙන්, බුදුරදුන් තමා ඉක්මවා ගොස් ඇති බවත්, එක හෙළා පිළිගත් බක-බ්‍රහ්මයා, තෙරුවන් සරණ ගොස් සැදැහැවත් උපාසකයෙක් වීය.

